ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**12 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)

ශෛවනෙරි I, II
சைவநெறி I, II
Saivanery I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## ශෛවනෙරි I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

1. "ඓන්දුකරත් තානෙමුගප් පෙරුමාලේ" යන ගීතිකා පේළිය මගින් ප්‍රශංසා ලබනුයේ,
   (1) ශිව දෙවියන් ය. (2) තිරුමාල් ය. (3) විනායහර් ය. (4) මුරුගන් ය.

2. හින්දු ආගමේ විශේෂිත ග්‍රන්ථය ලෙස සැලකෙන්නේ,
   (1) වේදම් ය. (2) ආගමම් ය. (3) තිරුමුරෛ ය. (4) කන්ද පුරාණම් ය.

3. සංගීතයට වැදගත්කමක් ලබාදෙන වේදය කුමක් ද?
   (1) ඍග් වේදය (2) යජුර් වේදය (3) සාම වේදය (4) අතර්ව වේදය

4. චිතම්බරම් දේවාලයේ ඉතිහාසය පැහැදිලි කරන ග්‍රන්ථය වන්නේ,
   (1) සේක්කිලාර් පුරාණම් ය. (2) කන්ද පුරාණම් ය.
   (3) පෙරිය පුරාණම් ය. (4) කෝයිට් පුරාණම් ය.

5. දක්ෂිණකෛලාස පුරාණම් මගින් විශිෂ්ටත්වයට පත් වූ ශ්‍රී ලාංකීය දේවාලය වන්නේ,
   (1) තිරුකෝණේශ්වරම් ය. (2) තිරුකේදීශ්වරම් ය.
   (3) මුන්නේශ්වරම් ය. (4) නගුලේශ්වරම් ය.

6. ශ්‍රී ලංකාව 'ශිව භූමි' යනුවෙන් ප්‍රශංසා කරන ලද්දේ,
   (1) අරුණගිරිනාදර් විසිනි. (2) ආරුමුග නාවලර් විසිනි.
   (3) පූසලාර් විසිනි. (4) තිරුමූලර් විසිනි.

7. "වෙල්ලෛ නිරප් පූවුමල්ල වේරෙන්ද මලරුම් අල්ල උල්ලක් කමලමඩි උත්තමනාර් වේණ්ඩුවදු..." යනුවෙන් ගායනා කරන ලද්දේ,
   (1) ආරුමුග නාවලර් විසිනි. (2) ස්වාමි විපුලානන්තර් විසිනි.
   (3) තිරුමූලර් විසිනි. (4) අරුණගිරිනාදර් විසිනි.

8. දෙවියන්ගේ දේව ක්‍රියා පහෙන් 'අනුක්කිරහම්' යනු
   (1) මැවීම වේ. (2) රැකගැනීම වේ.
   (3) ආශිර්වාද කිරීම වේ. (4) නොපෙන්වීම වේ.

9. ශිව භක්තිකයන්ගේ මහිමය පිළිබඳව සුන්තරමූර්ති නායනාර් තුමා විසින් ගායනා කරන ලද්දේ,
   (1) තිරුතොණ්ඩත් තොගෛ ය. (2) තිරුතොණ්ඩර් පුරාණම් ය.
   (3) තිරුතොණ්ඩර් තිරුවන්දාදි ය. (4) තිරුමුරෛකණ්ඩ පුරාණම් ය.

[දෙවැනි පිටුව බලන්න.

**10.** ශක්ති පීඨ හැට හතරෙන් එකක් වන්නේ,
(1) පාණ්ඩිරුප්පු තෞපදෛයම්මන් දේවාලයයි.
(2) මාතලේ ශ්‍රී මුත්තුමාරියම්මන් දේවාලයයි.
(3) නයිනතිවු නාගපූශනියම්මන් දේවාලයයි.
(4) වට්ට්‍රාපලෛ කණ්ණකියම්මන් දේවාලයයි.

**11.** විමුක්තියට පාදක වන ආගමම් හි කොටස වන්නේ,
(1) සරියා පාදම් ය. (2) කිරියා පාදම් ය. (3) යෝගා පාදම් ය. (4) ඥාන පාදම් ය.

**12.** පංචාංග ක්‍රමයට අනුව චන්ද්‍රයා එක් එක් තරුවක් (නට්චත්තිරම්) පසුකර යාමට ගතවන කාල පරිච්ඡේදය හඳුන්වන නම,
(1) වාරම් ය. (2) කරණම් ය. (3) යෝගම් ය. (4) තිදි වේ.

**13.** ලන්දේසි යුගයේ බිහි වූ ශෛව ආගමික ග්‍රන්ථය වන්නේ,
(1) පරාලෛ විනායහර් පල්ලු ය. (2) දක්ෂිණ කෛලාස පුරාණම් ය.
(3) කෝණේසර් සෙල් ලිපිය ය. (4) කදිරමලෛ පල්ලු ය.

**14.** අභ්‍යන්තරව පළඳින ශිව සංකේතය වන්නේ,
(1) විභූති ය. (2) උරුත්තිරාක්කම් ය. (3) කුංකුම ඇඳුම ය. (4) පංචාක්ෂර ය.

**15.** ඇදුරු සහ ගෝලයා අතර ප්‍රශ්නෝත්තර ක්‍රමයෙන් ගොඩනැගුණු ශෛව සිද්ධාන්ත ශාස්ත්‍ර ග්‍රන්ථය
(1) ඉරුබා ඉරුබන්දු ය. (2) ශිවඥානපෝදම් ය.
(3) තිරුවරුට්පයන් ය. (4) ශිවඥානසිත්තියාර් ය.

**16.** හින්දු භක්තිකයන් තම මියගිය මව සිහිකරමින් කරන උපවාසය වන්නේ,
(1) ආඩි අමාවාසෛ ය. (2) සිත්තිරා පෞර්ණමි ය.
(3) තිරුවාදිරෛ ය. (4) ප්‍රදෝශම් ය.

**17.** නවවන තිරුමුරෛහි අඩංගු වී ඇති තිරුවිසෛප්පා සහ තිරුප්පල්ලාණ්ඩු යන ග්‍රන්ථ දෙකම රචනා කරන ලද්දේ,
(1) සේදිරායර් විසිනි. (2) තිරුමාලිගෛතේවර් විසිනි.
(3) තිරුමූලර් විසිනි. (4) සේන්දනාර් විසිනි.

**18.** අරුණගිරිනාදර් තම ගීතිකා මගින් ප්‍රශංසා කරනු ලැබූ ශ්‍රී ලාංකීය මුරුග දේවාල වන්නේ,
(1) සෙල්ව සන්නිදි සහ වෙරුගල් සිත්තිර වේලායුදර් දේවාලය වේ.
(2) වෙරුගල් සිත්තිර වේලායුදර් දේවාලය සහ කන්දවනක් කඩවෛ වේ.
(3) කන්දවනක් කඩවෛ සහ කතරගම වේ.
(4) කතරගම සහ මණ්ඩූර් මුරුගන් දේවාලය වේ.

**19.** 'ගම ම එකතු වී තේරු කරත්තය ඇදගෙන යාම' යන්න මගින් පිළිඹිබු කෙරෙන උතුම් ගුණාංගය වන්නේ,
(1) එකමුතුභාවයයි. (2) කලාව පිළිබඳ උනන්දුවයි.
(3) ආගන්තුක සත්කාරයයි. (4) යහපතයි.

**20.** ඇදුරු භක්තිය මගින් උසස් තත්ත්වයක් ලබාගත් භක්තිකයා වන්නේ,
(1) සාක්කිය නායනාර් ය. (2) පූසලාර් ය.
(3) මංගයට්කරසියාර් ය. (4) ඉයට්පගෛයාර් ය.

**21.** ආඩි අමාවක දිනයේදී මළවුන්ගේ දානය සිදු කිරීම විශේෂ අංගයක් කරගෙන ඇති දේවාලය කුමක් ද?
(1) මාමාංග පිල්ලෛයාර් දේවාලය
(2) කොක්කඩිචෝලේ තන්තොන්ද්‍රීශ්වරම්
(3) ඉණුවිල් කන්දසුවාමි දේවාලය
(4) පොන්නාලෛ වරදරාජ පෙරුමාල් දේවාලය

**22.** දේවාලයේ උත්සවයේ (තිරුවිලා) ආරම්භයේ පිදුරු සහ තරුප්පෛ යනාදිය යොදාගෙන සකසන ලද රූපයක් ශිව අග්නි සමග එකතු කර මාර්ග දිගේ ඇදගෙන යාමෙන් මාර්ගය පිරිසිදු කිරීමේ අදහසින් කරනු ලබන්නේ,
(1) ග්‍රාම ශාන්ති වේ. (2) අංගුරාර්ප්පණම් වේ.
(3) සූර්නෝත්සවම් වේ. (4) වාස්තු ශාන්ති වේ.

23. 'පිරත්තියට්සම්' යනු,
(1) ඍෂිවරුන් විසින් ප්‍රකාශ කරන ලද සත්‍ය වාක්‍ය වේ.
(2) එකක් මගින් තවත් යමක් අනුමාන කිරීමයි.
(3) ඉන්ද්‍රියන් මගින් ලබා ගන්නා ඥානය වේ.
(4) පොත්පත් මගින් ලබා ගන්නා ඥානය වේ.

24. හින්දු භක්තිකයන්ගේ විශ්වාසයට අනුව දිනක සීමාව යනු,
(1) හිරු උදාවේ සිට ඊළඟ දිනයේ හිරු උදාව දක්වා වන කාලයයි.
(2) මධ්‍යම දහවල් සිට ඊළඟ දිනයේ මධ්‍යම දහවල් දක්වා වන කාලයයි.
(3) හිරු බැස යාම සිට ඊළඟ දිනයේ හිරු බැස යාම දක්වා වන කාලයයි.
(4) මධ්‍යම රාත්‍රිය සිට ඊළඟ දිනයේ මධ්‍යම රාත්‍රිය දක්වා වන කාලයයි.

25. පුරච්චන්දාන කුරවර්ලා පමණක් ඇතුළත් කාණ්ඩය කුමක් ද?
(1) මෙයිකණ්ඩ තේවර්, අරුණන්ති සිවාචාරියාර්, මරෛඥාන සම්බන්තර්
(2) සනට්කුමාර මුනිවර්, සත්‍යඥානතරිසිනිහල්, උමාපති සිවාචාරියාර්
(3) තිරුනන්දි තේවර්, සනට්කුමාර මුනිවර්, පරංජෝති මුනිවර්
(4) අරුණන්ති සිවාචාරියාර්, සනට්කුමාර මුනිවර්, මරෛඥාන සම්බන්තර්

26. ශෛව ආගමික මුතුන් මිත්තන් විසින් 'ආවුරෝංජු ගල්' නිර්මාණය කිරීමේ අරමුණ වූයේ,
(1) මගීන්ට විවේක ලබා ගැනීමට ය.
(2) සතුන්ට තම ශරීරයේ ඇති කිණිතුල්ලන් ආදිය ඉවත් කර ගැනීමට ය.
(3) සතුන්ට තමන්ගේ පිපාසය නැති කර ගැනීමට ය.
(4) මියගිය සොල්දාදුවන් සිහිපත් කර නමස්කාර කිරීමට ය.

27. ආණවම් 'සගසමලම්' යනුවෙන් හැඳින්වීමට හේතුව කුමක් ද?
(1) අඳුරට වඩා ආණවම් දරුණු බැවිනි.
(2) අඳුර සේම නොපෙන්වන ස්වභාවයක් ඇති බැවිනි.
(3) ආත්මය සමඟ එකටම උපන් බැවිනි.
(4) තුන් වාර්ගික ආත්මවල වැළඳී තිබෙන බැවිනි.

28. "යාවර්ක්කුමාම් පිරර්ක්කු ඉන්නුරෛතානේ" යන තිරුමන්ත්‍ර ගීතිකා පේළිය පෙන්නුම් කරන උතුම් ගුණය වන්නේ,
(1) දිනපතා දෙවි වන්දනාවේ යෙදිය යුතු බවයි.
(2) සත්වයන්ට දයාව දැක්විය යුතු බවයි.
(3) කුසගින්නේ සිටින අයගේ කුසගින්න නිවිය යුතු බවයි.
(4) අන් අයට කරුණාවන්ත වචන වලින් කථා කළ යුතු බවයි.

29. මහොත්වයේ සිදුවන තිරුකල්‍යාණම් මගින් පෙන්නුම් කරනු ලබන්නේ,
(1) ආණවම් තම බල අහිමි වී, ආත්මය මලවලින් බේරීම පිණිස දේව ආශිර්වාදය උපකාරී වන බව ය.
(2) කරුණා හැඩැති ශක්ති ප්‍රබුද්ධ ශිව දෙවියන් සමගින් මිශ්‍ර වී ප්‍රපංචය ක්‍රියාකරවීම යන්න ය.
(3) ලොකයේ ධාන්‍ය වර්ධනය බාධාවකින් තොරව සිදුවීමට දෙවියන් ආශිර්වාද කිරීම යන්න ය.
(4) දෙවියන් එක් කෙනෙකි යන දර්ශනය සියලු ජීවීන් දැනගත යුතුයි යන්න ය.

30. කණ්ණකීව මිනිස් ස්ත්‍රියක් ලෙස නොව, පරාශක්තිගේ ස්වරූපයක් ලෙස සැලකෙන ශ්‍රී ලාංකීය සාහිත්‍ය පමණක් ඇතුළත් කාණ්ඩය කුමක් ද?
(1) කණ්ණකි වලක්කුරෛ, සිලප්පතිකාරම්, කෝවලනාර් කදෛ
(2) කණ්ණකි වලක්කුරෛ, සිලප්පතිකාරම්, සිලම්බු කූරල්
(3) සිලප්පතිකාරම්, කෝවලනාර් කදෛ, සිලම්බු කූරල්
(4) කණ්ණකි වලක්කුරෛ, කෝවලනාර් කදෛ, සිලම්බු කූරල්

31. 'තීට්සෛ' යන්නෙහි තේරුම වන්නේ,
(1) මළ වර්ග ලබා දී ඥානය නැති කරන්නකි.
(2) මළ වර්ග නැතිකර ඥානය ලබා දෙන්නකි.
(3) මළ වර්ග සහ ඥානය ලබා දෙන්නකි.
(4) මළ වර්ග සහ ඥානය නැති කරන්නකි.

32. 'සීවන්මුත්ති' යනු,
(1) ආත්මය ශරීරය සමගින් සිටින අවස්ථාවේ ලැබෙන්නකි.
(2) ආත්මය ශරීරයෙන් පිටව ගිය පසු ලැබෙන්නකි.
(3) ආත්මය ලෞකික සැප සම්පත්වල යෙදීමයි.
(4) ආත්මය අසත්තු සමගින් සිටින තත්ත්වයයි.

**33.** එකොළොස්වන තිරුමුරෙහි ඇතුළත් ප්‍රබන්ධ පමණක් අයත් කාණ්ඩය කුමක් ද?
(1) තිරුමුරුගාටේ‍රප්පඩෛ, තිරුප්පල්ලාණ්ඩු, පොන්වන්නත්තන්දාති
(2) තිරුවාලංකාට්ටු මූත්ත තිරුප්පතිකම්, තිරුත්තොණ්ඩර් තිරුවන්තාති, පොන්වන්නත්තන්දාති
(3) තිරුප්පල්ලාණ්ඩු, තිරුවාලංකාට්ටු මූත්ත තිරුප්පතිකම්, තිරුවිරට්ටෛ මණිමාලෛ
(4) තිරුවිරට්ටෛ මණිමාලෛ, තිරුත්තොණ්ඩර් තිරුවන්තාති, තිරුත්තාන්ඩකම්

**34.** 'නෛමිත්තික පිළිවෙත්' යනු,
(1) යම්කිසි හේතුවක් සඳහා සිදුකරනු ලබන්නකි.
(2) දේවාලවල දෛනිකව සිදුවන්නකි.
(3) ප්‍රයෝජනයක් බලාපොරොත්තුවෙන් සිදු කරනු ලබන්නකි.
(4) කිසිම ප්‍රයෝජනයක් බලාපොරොත්තු නොවී සිදු කරනු ලබන්නකි.

**35.** 'සට්පුත්තිර මාර්ගය' යනු,
(1) භක්තිකයා තමන් වහලෙකු ලෙස ද දෙවියන් ස්වාමියා ලෙස ද සලකන මාර්ගය යි.
(2) භක්තිකයා තමන් පුතණුවෙකු ලෙස ද දෙවියන් පියෙකු ලෙස ද ප්‍රේම කරන ක්‍රමය යි.
(3) භක්තිකයා දෙවියන් මිත්‍රයෙකු ලෙස සලකා ප්‍රේමය කරන ක්‍රමය යි.
(4) භක්තිකයා දෙවියන් ඇදුරෙකු ලෙස සලකන ක්‍රමය යි.

**36.** දීපාවලී දිනයේ පළඳින නව ඇඳුම් කුමක් සංකේතවත් කරන්නේ ද?
(1) යහපත් සිතුවිලි (2) භක්තිය (3) ඥානය (4) සතුට

**37.** සුන්දරමූර්ති නායනාර් තුමාට තම ඇස් දෙකෙහිම පෙනීම නැතිවීමට හේතු වූ කරුණ කුමක් ද?
(1) සංගිලියාර්ට කළ පොරොන්දුව කඩ කිරීම
(2) දෙවියන්ව 'පිත්තා' යනුවෙන් හැඳින්වීම
(3) භක්තිකයන්ට තමන් වහලෙකු ලෙස පැවසීම
(4) පරවයාර්ට තරහ ඇති කිරීම

- පහත සඳහන් වගුවේ A සිට I දක්වා දී ඇති තොරතුරු ආශ්‍රයෙන් **38** සිට **40** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| ආගමික කුරවර් | භාස්කම | දේවාලය |
|---|---|---|
| A – තිරුඥානසම්බන්තර් | D – ගඩොල් රත්රන් කුට්ටි බවට පත් කිරීම | G – සිදම්බරම් |
| B – සුන්තරමූර්ති නායනාර් | E – දෙවියන්ම පුස්කොළ පත්‍රයේ අත්සන් තැබීම | H – තිරුමයිලාප්පූර් |
| C – මාණික්කවාසහර් | F – සර්පයෙකු දෂ්ට කිරීමෙන් මියගිය කාන්තාව පණගැන්වීම | I – තිරුප්පුහලූර් |

**38.** වන්තොණ්ඩර් හා සම්බන්ධ කාණ්ඩය කුමක් ද?
(1) BDG (2) BDI (3) CEG (4) CEI

**39.** තිරුචිට්ටම්පල කෝවෙයාර් හා සම්බන්ධ කාණ්ඩය කුමක් ද?
(1) BEG (2) BFH (3) CDG (4) CFH

**40.** පූම්පාවෛ හා සම්බන්ධ කාණ්ඩය කුමක් ද?
(1) AEG (2) AFH (3) BEI (4) BFI

* *

12 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)

ශෛවනෙරි I, II
சைவநெறி I, II
Saivanery I, II

## ශෛවනෙරි II

* **පළමුවන** ප්‍රශ්නය හා **දෙවන** ප්‍රශ්නය ඇතුළු ව, ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* පළමුවන ප්‍රශ්නයට ලකුණු **20** ක් ද, අනෙකුත් සෑම ප්‍රශ්නයක් සඳහා ම ලකුණු **10** බැගින් ද හිමි වේ.

**1.** පහත සඳහන් ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

(i) 'පරාබරක් කණ්ණි' යන ග්‍රන්ථයට එම නම ලැබීමට හේතුව කුමක් ද?

(ii) මහාලයපට්සම් හි සිදුවන වැදගත් ක්‍රියා **දෙක** මොනවා ද?

(iii) සිතේ දිව්‍යමය සිතුවිලි ඇතිවීමෙන් ලැබෙන ප්‍රයෝජන **දෙකක්** සඳහන් කරන්න.

(iv) මාණික්කවාසහර් රචනා කළ පනුවල් **දෙකක්** සඳහන් කරන්න.

(v) දන්සල් අතර බත් දන්සල වැදගත්වීමට හේතුව කුමක් ද?

(vi) තිලකවතියාර් තාපස ජීවිතයේ යෙදීමට හේතුව කුමක් ද?

(vii) ග්‍රාමීය කලා **දෙකක්** සඳහන් කරන්න.

(viii) හින්දු භක්තිකයන්ගේ විවාහ පිළිවෙතේ තැල්ල බැඳීමෙන් පසුව මනමාලිය මනමාලයාගේ වම්පස අසුන් ගැන්වීමේ මූලික සිද්ධාන්තය කුමක් ද?

(ix) සිංගෛ පරරාසසේකරන්, නල්ලූර් කන්දස්වාමි දේවාලය කේන්ද්‍රකර ගනිමින් සතර සීමාවල ස්ථාපිත කළ දේවාල මොනවා ද?

(x) භගවත්ගීතාව සහ ධම්මපද යන ග්‍රන්ථ දෙකෙහිම සඳහන් වන පොදු අදහස් **දෙකක්** සඳහන් කරන්න.

**2.** (i) පහත සඳහන් ගීතිකා **දෙකක්** නිවැරදිව හා නියමිත අනුපිළිවෙළට ලියන්න.

(අ) "තනම් තරුම් කල්වි..."

(ආ) "යාවර්க்කුමාම් ඉරෛවට්කු..."

(ඉ) "කට්ටුවර් විලුංගුම් කට්පහක්..."

(ඊ) "මූවිරු මුහංගල් පෝට්‍රි..."

(උ) "උන්නුම් සෝරු පරුගුම් නීර්..."

(ii) ඉහත (i) හි සඳහන් ගීතිකාවල අදහස සරලව ලියන්න.

**3.** "නාම් ආර්ක්කුම් කුඩියල්ලෝම් නමනෛ අංජෝම්"

– තිරුනාවුක්කරසර් –

(i) තිරුනාවුක්කරසර් 'උලවාරප් පඩෛයාලි' යනුවෙන් හඳුන්වනු ලැබීමට හේතුව කුමක් ද?

(ii) තිරුනාවුක්කරසර් සහ තිරුඥානසම්බන්තර් එකතු වී කළ සේවා **දෙකක්** සඳහන් කරන්න.

(iii) අප්පුදියඩිහල්, තිරුනාවුක්කරසර් කෙරෙහි ඇතිකර ගත් භක්තිය පිළිබඳව කෙටියෙන් පහදන්න.

[හයවැනි පිටුව බලන්න.

**4.** "වේදමෝඩු ආගමම් මෙයියාම් ඉරෛවන් නූල්"
– තිරුමූලර් –

(i) වේදවලට කියනු ලබන වෙනත් නම් **දෙකක්** සඳහන් කරන්න.
(ii) වේදයේ කාණ්ඩ **තුන** මොනවා ද?
(iii) සෘග් වේදය පිළිබඳව කෙටියෙන් පහදන්න.

**5.** "මෙම ශරීරය ලැබුණේ අපි දෙවියන්ට වන්දනා කර
විමුක්තිය යන සතුට ලැබීම පිණිස ය"
– ආරුමුග නාවලර් –

(i) 'ගුරු' යන්නෙහි තේරුම කුමක් ද?
(ii) ලිංග වන්දනා කර විමුක්තිය ලබා ගත් නායන්මාර්ලා **තිදෙනෙකුගේ** නම් සඳහන් කරන්න.
(iii) සංගම වන්දනා පිළිබඳව කෙටියෙන් පැහැදිලි කරන්න.

**6.** "උට්ටු නෝයි තෝන්ඩුල් උයිර්ක්කු උරුකණ් සෙයියාමෛ
අට්ටෛ තවත්තිට්කු උරු"
– තිරුවල්ලුවර් –

(i) ශිව දෙවියන්ට අදාළ උපවාස **දෙකක්** සඳහන් කරන්න.
(ii) උපවාස පිළිපැදීමෙන් ලැබෙන වාසි **තුනක්** සඳහන් කරන්න.
(iii) කන්ද ශෂ්ටි උපවාසය පිළිබඳව කෙටියෙන් පහදන්න.

**7.** පහත සඳහන් මාතෘකාවලින් **දෙකක්** පිළිබඳව කෙටි සටහන් ලියන්න.
(i) කලුදාවලෙ පිල්ලෙයාර් දේවාලය
(ii) ශෛව පරිපාලන සභාව
(iii) තරෞපදෛයම්මන් වන්දනාව
(iv) ශ්‍රීලශ්‍රී ආරුමුග නාවලර්

* * *

